12247

OL/2021(2022)/40/S-I,II





**40 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2021(2022)
General Certificate of Education (Ord. Level) Examination, 2021(2022)

| | | |
|---|---|---|
| **සංගීතය (පෙරදිග)** | **I, II** | **පැය තුනයි** |
| சங்கீதம் (கீழைத்தேய) | I, II | மூன்று மணித்தியாலம் |
| **Music (Oriental)** | **I, II** | *Three hours* |

**අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි**
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

## සංගීතය (පෙරදිග) I

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
* **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (×) ලකුණ යොදන්න.**
* එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** ශ්‍රී ලංකාවේ ජාතික ගීයේ නිර්මාතෘ වන්නේ,
(1) ලයනල් එදිරිසිංහ මහතා ය.
(2) සුනිල් සාන්ත මහතා ය.
(3) ආනන්ද සමරකෝන් මහතා ය.
(4) ඩබ්ලිව්. බී. මකුලොලුව මහතා ය.

**2.** විකෘති ස්වර සහිත රාග දෙක ඇතුළත් වරණය කුමක් ද?
(1) යමන් සහ භූපාලි (2) භූපාලි සහ කාෆි (3) කාෆි සහ භෛරවී (4) භෛරවී සහ බිලාවල්

**3.** කාෆි රාගයට අයත් මුඛ්‍යාංගය ලෙස සැලකෙන ස්වර ඛණ්ඩය තෝරන්න.
(1) රි ගු රි ම ගු රි ස රි ප
(2) ස ස රි රි ගු ගු ම ම ප
(3) රි ප ම ප ගු රි ස රි ප
(4) රි නි ධ නි ප ධ ම ම ප

**4.** ෂඩ්ජය සංවාදී ස්වරය ලෙස යෙදෙන රාග යුගලය කුමක් ද?
(1) කාෆි සහ භෛරවී (2) භෛරවී සහ යමන් (3) යමන් සහ භූපාලි (4) භූපාලි සහ බිලාවල්

**5.** රාග ගානසමය සලකන විට රාත්‍රී කාලයේ ගැයීමට හා වැයීමට සුදුසු සේ සැලකිය හැකි රාග තුනක් ඇතුළත් වරණය කුමක් ද?
(1) යමන්, භූපාලි සහ කාෆි
(2) භූපාලි, කාෆි සහ බිලාවල්
(3) කාෆි, බිලාවල් සහ භෛරවී
(4) බිලාවල්, භෛරවී සහ යමන්

**6.** රිගස, ගමරි, මපග වශයෙන් පිළිවෙළින් ගොඩනැගෙන ශුද්ධ ස්වර අභ්‍යාසයෙහි පස්වැනියට යෙදෙන ස්වර සමූහය වන්නේ,
(1) ධපනි ස්වර සමූහයයි.
(2) ධස්නි ස්වර සමූහයයි.
(3) ධනිප ස්වර සමූහයයි.
(4) ධනිස් ස්වර සමූහයයි.

**7.** භූපාලි රාගය සම්බන්ධයෙන් නිවැරදි ප්‍රකාශය කුමක් ද?
(1) බිලාවල් මේලගත සම්පූර්ණ ජාති රාගයකි.
(2) කල්‍යාණ මේලගත සම්පූර්ණ ජාති රාගයකි.
(3) බිලාවල් මේලගත ඖඩව ජාති රාගයකි.
(4) කල්‍යාණ මේලගත ඖඩව ජාති රාගයකි.

**8.** විවාදි ස්වර යෙදෙන රාග ඇතුළත් වරණය තෝරන්න.
(1) යමන් සහ කාෆි
(2) කාෆි සහ භෛරවී
(3) භෛරවී සහ භූපාලි
(4) භූපාලි සහ බිලාවල්

[දෙවෙනි පිටුව බලන්න

**9.** |ගප ධනි ස– ධප මග මරි ග– ගම රිරි ස–|

ඉහත තානාලංකාරය, තාලයෙහි එක් ආවර්තයකට අනුව රචනා වී ඇත. එම තානාලංකාරයට අදාළ රාගය සහ තාලය ඇතුළත් වරණය කුමක් ද?

(1) බිලාවල් රාගය සහ ජප් තාලය
(2) භූපාලි රාගය සහ ත්‍රිතාලය
(3) භූපාලි රාගය සහ ජප් තාලය
(4) බිලාවල් රාගය සහ ත්‍රිතාලය

**10.**

| ධගෙ | නති | නක | ධින |
|---|---|---|---|
| x | 2 | 0 | 3 |

වශයෙන් වැයෙන තාලයෙහි අවනද්ධාක්ෂර උත්පාදන විධි පිළිබඳව නිවැරදිව සඳහන් වරණය තෝරන්න.

(1) දකුණතින් අක්ෂර 04, වමතින් අක්ෂර 03, දෙකොටසින්ම අක්ෂර 01
(2) දකුණතින් අක්ෂර 04, වමතින් අක්ෂර 02, දෙකොටසින්ම අක්ෂර 01
(3) දකුණතින් අක්ෂර 02, වමතින් අක්ෂර 04, දෙකොටසින්ම අක්ෂර 02
(4) දකුණතින් අක්ෂර 02, වමතින් අක්ෂර 02, දෙකොටසින්ම අක්ෂර 02

**11.** පහත සඳහන් හින්දුස්තානි තාල අතුරෙන් අනුතාල ස්ථාන **නොමැති** තාලය තෝරන්න.

(1) ත්‍රිතාල් (2) දාදරා (3) ජප්තාලය (4) දීප්චන්දි

**12.** මේල හෙවත් ථාට පිළිබඳ නිවැරදි ප්‍රකාශය කුමක් ද?

(1) හින්දුස්තානි සංගීතයේ මේල 72ක් ඇත.
(2) මේල ගායනය හා වාදනය කරනු ලැබේ.
(3) රාග වර්ගීකරණය වී ඇත්තේ මේල යටතේ ය.
(4) මේලයක ඇත්තේ ස්වර 5ක් පමණි.

**13.** උත්තර භාරතීය රාගධාරී ශාස්ත්‍රීය ගායනයක් සඳහා සාම්ප්‍රදායික ව යොදා ගැනෙන සහාය වාදන භාණ්ඩ යුගලය කුමක් ද?

(1) තාම්පුරාව සහ තබ්ලාව
(2) තාම්පුරාව සහ මෘදංගම්
(3) වයලීනය සහ මෘදංගම්
(4) සිතාරය සහ තබ්ලාව

**14.** රවි ශංකර්, හරිප්‍රසාද් චෞරසියා සහ සබීර් හුසේන් යන සංගීතඥයින් විසින් වාදනයේ ප්‍රවීණත්වයක් දක්වන ලද සංගීත භාණ්ඩ, පෙරදිග සංගීත භාණ්ඩ වර්ගීකරණයට අනුව පිළිවෙළින් දැක්වෙන වරණය තෝරන්න.

(1) තත්, සුෂිර සහ අවනද්ධ
(2) අවනද්ධ, සුෂිර සහ තත්
(3) සුෂිර, තත් සහ අවනද්ධ
(4) තත්, අවනද්ධ සහ සුෂිර

**15.** උත්තර භාරතීය රාගධාරී සංගීතය සඳහා යොදා ගැනෙන පර්දා සහ අනුනාද තත් සහිත භාණ්ඩ යුගලය තෝරන්න.

(1) තාම්පුරා සහ එස්රාජ්
(2) සිතාර් සහ එස්රාජ්
(3) වයලීන් සහ සාරංගි
(4) සාරංගි සහ සිතාර්

● පහත දැක්වෙනුයේ තත් වාද්‍ය භාණ්ඩ හතරක රූපසටහන් ය. එම රූපසටහන් ඇසුරෙන් ප්‍රශ්න අංක **16, 17** සහ **18** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.


A


B


C


D

**16.** බටහිර සංගීත සම්භවයකින් යුත් භාණ්ඩ අයත් ඉංග්‍රීසි අක්ෂර යුගලය වන්නේ,

(1) A සහ B ය. (2) A සහ D ය. (3) B සහ C ය. (4) C සහ D ය.

**17.** දුන්නකින් (Bow) වයනු ලබන භාණ්ඩ යුගලයට අයත් ඉංග්‍රීසි අක්ෂර සඳහන් වරණය කුමක් ද?

(1) A සහ C (2) A සහ D (3) B සහ C (4) B සහ D

**18.** ස්වර පිහිටීම සමාන වන භාණ්ඩ යුගලය අයත් ඉංග්‍රීසි අක්ෂර වන්නේ,

(1) A සහ B ය. (2) A සහ C ය. (3) B සහ D ය. (4) C සහ D ය.

**19.** ග්‍රැමෆෝන් ගී වර්ගයට අයත් ගීත ඇතුළත් වරණය තෝරන්න.
(1) මුළු ගතම වෙහෙසුනා, ගයන ගැයුම්, මංගෝ කළු නැන්දේ
(2) සිනිඳු සුදුමුතු, ඉරෙන් හඳෙන්, අම්මාවරුනේ
(3) මල් පිපෙයි දෙනෙත් ඇරෙයි, පාන තියා බුදු සාදුට, කටු අකුලේ මල් ඇහැරේ
(4) බැස සීතල ගඟුලේ, මව්පියො ආදී, දස බලධාරී

**20.** කපිරිඤ්ඤා ගී තනු ආශ්‍රයෙන් නිර්මාණය වී ඇති ගීත දෙකක් වන්නේ,
(1) සුදු සඳ එළියේ, ඕලු නෙලුම් නෙරිය රඟාලා යන ගීතයි.
(2) ජීවන මේ ගමන සංසාරේ, කුල ගෙදරින් දුම්බර කඳුවැටියේ යන ගීතයි.
(3) රස ආහර කවලා, මී වදයකි ජීවිතේ යන ගීතයි.
(4) දන්න වංහුං අප කන්නසාමි, සුවඳ පද්ම ඕලු ආදි යන ගීතයි.

**21.** ගුත්තිල කාව්‍යයේ ගීත අතුරෙන් මාත්‍රා තුනෙහි රිද්ම රටාව අනුව ගායනය කළ හැකි ගී පාදය තෝරන්න.
(1) මන් මත් කරවන දන මුළු දෙරණා
(2) රැගත් සුරා පිරූ විතින්
(3) රූ රැසේ අඳිනා ලෙසේ
(4) පුන් මදාරා මල් දමින්

**22.** කලිකාල සර්වඥ පණ්ඩිත දෙවන පරාක්‍රමබාහු රජු විසින් රචිත යැයි සැලකෙන්නේ,
(1) උඩරට වන්නම් ය.
(2) පහතරට සින්දුවන්නම් ය.
(3) උඩරට සවුදම් ය.
(4) පහතරට සවුදම් ය.

**23.** "සුරරද සමන් සමගින් සුරඟන එවර" මෙම ගී පාදයේ යෙදෙන සඳැස්මත් ගණන
(1) 18 කි.
(2) 17 කි.
(3) 16 කි.
(4) 15 කි.

**24.** දේශීය පංචතූර්ය සංගීත භාණ්ඩ වර්ගීකරණය යටතේ ස්වර වාද්‍ය භාණ්ඩ අයත් වරණය තෝරන්න.
(1) ආතත
(2) විතත
(3) ඝන
(4) සුෂිර

**25.** "නැති බැරි මොහොතක – පිහිටට හිටියේ
මව්නි පියාණනි – ඔබ පමණයි"
ඉහත ගීතයේ සංගීත නිර්මාතෘ මෙන් ම ගායකයා ද වන්නේ,
(1) වික්ටර් රත්නායක මහතා ය.
(2) රෝහණ වීරසිංහ මහතා ය.
(3) සුනිල් දයානන්ද කෝනාර මහතා ය.
(4) කරුණාරත්න දිවුල්ගනේ මහතා ය.

**26.** ඉයුජින් නාඩගමේ "මෙමගින් ගිය රුසිරු එ තරුණා ..." ගී තනුව ආශ්‍රයෙන් නිර්මාණය කර, මනමේ නාට්‍යයට ඇතුළත් කර ඇත්තේ,
(1) දස දෙස ඉන්ද්‍රා ගීතයයි.
(2) ලප නොම වන් සඳ ගීතයයි.
(3) රුසිරු ළඳුනි ඔබ ප්‍රේමයෙනා ගීතයයි.
(4) සේ සුරිඳු බරණැස් පුර පසිඳු ගීතයයි.

**27.** මද්දලයෙන් වැයෙන තිර්ලානා තාලය සහ තබ්ලාවෙන් වැයෙන කෙහෙර්වා තාලය යොදාගැනෙන ගායනා ඇතුළත් රංග සම්ප්‍රදායන් දෙක පිළිවෙළින් සඳහන් වරණය කුමක් ද?
(1) නූර්ති සහ කෝලම්
(2) කෝලම් සහ සොකරි
(3) සොකරි සහ නාඩගම්
(4) නාඩගම් සහ නූර්ති

● අංක **28** සහ **29** ප්‍රශ්නවලට පිළිතුරු සැපයීම සඳහා පහත දැක්වෙන ස්වර පුවරුව උපයෝගි කරගන්න.




**28.** ඉහතින් දක්වා ඇති ස්වර පුවරු ආකෘතියේ අංක 8, 10, 12, 13, 15, 17 සහ 19 යන ස්වර අයත් වන බටහිර ස්කේලය වනුයේ,
(1) $B^b$ Minor ස්කේලයයි.
(2) C Major ස්කේලයයි.
(3) F Major ස්කේලයයි.
(4) G Major ස්කේලයයි.

**29.** ඉහතින් දක්වා ඇති ස්වර පුවරු ආකෘතියේ 6, 10 සහ 13 යන ස්වර තුන ම එක විට වාදනය කළ විට ලැබෙන බටහිර කෝඩ් (chord) එක වනුයේ,
(1) C Minor.
(2) C Major.
(3) F Major.
(4) G Major.

**30.** ජන කවි ප්‍රබන්ධයක් පදනම් වී ගොඩනැගුණු ගී පාදය තෝරන්න.

(1) පෙරදිග මුතු ඇටයයි මේ
(2) ඇඩිකළ මාතා - පෙම්බර මාතා
(3) පිලේ පැදුර හේනට අරගෙන යනවා
(4) සිනිඳු සුදු මුතු තලාවේ

**31.** භාරතීය සංගීත සිද්ධාන්තයන්හි නාදයෙහි ත්‍රිවිධ ගුණයට අයත් විපුලතාව හඳුන්වා දී ඇත්තේ,

(1) උච්ච නීච භේදය යනුවෙනි.
(2) රූප භේදය යනුවෙනි.
(3) ජාති භේදය යනුවෙනි.
(4) ධ්වනි ගුණය යනුවෙනි.

**32.** සංගීත නාද උත්පාදනය වන තතක දිග අඩුවීම මගින් සිදුවන්නේ,

(1) කම්පන සංඛ්‍යාතය වැඩිවීම සහ තාරතාව ඉහළ යාමයි.
(2) කම්පන සංඛ්‍යාතය වැඩි වීම සහ තාරතාව පහළ යාමයි.
(3) කම්පන සංඛ්‍යාතය අඩු වීම සහ තාරතාව ඉහළ යාමයි.
(4) කම්පන සංඛ්‍යාතය අඩු වීම සහ තාරතාව පහළ යාමයි.

**33.** මධ්‍ය ෂඩ්ජයේ සංඛ්‍යාතය 256 Hz (හර්ට්ස්) වන විට පංචමය හා නිෂාදයේ සංඛ්‍යාත වන්නේ පිළිවෙළින්

(1) 320 Hz හා 480 Hz ය.
(2) 384 Hz හා 480 Hz ය.
(3) 340 Hz හා 426 Hz ය.
(4) 384 Hz හා 512 Hz ය.

**34.** භාරතීය සිනමාවේ විශිෂ්ට සංගීත අධ්‍යක්ෂවරුන් දෙදෙනෙකු ඇතුළත් වරණය තෝරන්න.

(1) එස්. ඩී. බර්මන් සහ නෞෂාඩ්
(2) රවි ශංකර් සහ මොහොමඩ් ගවුස්
(3) මොහොමඩ් රෆි සහ ආර්. මුත්තුසාමි
(4) ජග්ජිත් සිං සහ මොහිදීන් බෙග්

**35.** |+ පධ ප | ම ග රි | ස ස රි | ග ම – | මෙම ස්වර පාදය, ගැයීම ආරම්භ කරනු ලබන්නේ,

(1) සමග්‍රහයෙනි.
(2) සමස්ථානයෙනි.
(3) අවග්‍රහයෙනි.
(4) විෂමග්‍රහයෙනි.

**36.** ස රි ගු ම ප ධ නි යන ස්වර අන්තරය සහිත ආරෝහණය ශුද්ධ ස්වර පමණක් උපයෝගී කර ගනිමින් වාදනය කිරීම සඳහා යොදා ගත හැකි ස්වර වනුයේ,

(1) රි ග ම ප ධ නි ස්
(2) ධ නි ස රි ග ම ප
(3) ග ම ප ධ නි ස් රි
(4) ම ප ධ නි ස් රි ග

- අංක 37 සහ 38 ප්‍රශ්නවලට පිළිතුරු සැපයීම සඳහා පහත සඳහන් ස්වර පාදය උපයෝගි කරගන්න.

|ප – ගම | පධ නිධ පම | ග – රි | ස – – |

**37.** ඉහත C මේජර් ස්කේලයට අනුව ලියා ඇති ස්වර පාදය $B^b$ මේජර් ස්කේලයට අනුව පරිවර්තනය වී ඇති නිවැරදි ස්වරපාදය තෝරන්න.

(1) | ම – රිගු | මප ධනි ධප | ම – රි | ස – – |
(2) | ම – රිගු | මප ධප මගු | රි – ස | නි – – |
(3) | ම – රිගු | මගු පධ පම | ගු – රි | ස – – |
(4) | ම – රිගු | මප ධප මගු | රි – ගු | ස – – |

**38.** ඉහත ස්වර පාදය අපරදිග සංගීත ප්‍රස්තාරකරණය අනුව ලිවීමේ දී ඒ සඳහා යොදා ගත හැකි ක්ලෙෆ් (clef) සංකේතය හා තාල සංකේතය (time signature) වනුයේ,

(1) Treble clef $\frac{3}{4}$ time ය.
(2) Bass clef $\frac{3}{4}$ time ය.
(3) Treble clef $\frac{4}{4}$ time ය.
(4) Bass clef $\frac{4}{4}$ time ය.

**39.** බටහිර සංගීතඥ ලුඩ්විග් වැන් බීතෝවන් විසින් නිර්මාණය කරන ලද සංධ්වනියක් වන්නේ,

(1) ප්‍රාග් ය.
(2) ට්‍රිබියුට් ය.
(3) එරොයිකා ය.
(4) ජුපිටර් ය.

**40.** මෙරට ජන සංගීතය ඇසුරෙන් සංගීත නිර්මාණකරණයෙහි යෙදුණු සංගීතඥයෙකු වන්නේ,

(1) ලයනල් එදිරිසිංහ මහතා ය.
(2) රෝහණ බැද්දගේ මහතා ය.
(3) සුනිල් සාන්ත මහතා ය.
(4) ආනන්ද සමරකෝන් මහතා ය.

* *

**40 | S | I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2021(2022)
**General Certificate of Education (Ord. Level) Examination, 2021(2022)**

**සංගීතය (පෙරදිග) I, II**
சங்கீதம் (கீழைத்தேய) I, II
Music (Oriental) I, II

## සංගීතය (පෙරදිග) II

※ **පළමුවන** ප්‍රශ්නය ඇතුළු ව ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

※ සියලු ම ප්‍රශ්න සඳහා ලකුණු 12 බැගින් හිමි වේ.

**1.** අංක (i) සිට (iv) තෙක් අසා ඇති ප්‍රශ්නවලට කෙටි පිළිතුරු ප්‍රශ්න අංකය ද සමගින් ඔබේ පිළිතුරු පත්‍රයෙහි ලියන්න.

(i) ස ධු ප ධු, ම ප, ගු ම ගු රි ස මෙම ස්වර සංගතිය අයත් වන හින්දුස්ථානි රාගය නම් කරන්න.

(ii) නිර්දේශිත තාල අතුරෙන් 'ඛලි'ස්ථානය අටවන මාත්‍රාවෙහි යෙදෙන හින්දුස්තානි තාලය නම් කරන්න.

(iii) ස්වර සප්තකයක ඇතුළත් සියලු ම ප්‍රකෘති හා විකෘති ස්වරයන්ගේ එකතුව කීයද?

(iv) "පැහැ සරණිය මිණි පැමිණිය කොත් අගට" මෙම ගී පාදය ගායනයට සුදුසු විරිත කුමක් ද?

● අංක (v) සිට (viii) තෙක් ප්‍රශ්න සඳහා පිළිතුරු ලිවීමට පහත සඳහන් ගී පාද උපයෝගී කරගන්න.

- ලෙංචිනා මගේ නංගියේ ඇයි ගං තෙරට වී ගොම්මනේ
- දෑතට වළලු මල් මුතුවැල් මාල පොටයි
- මෝරා බීජයෙනා - කළපත් දෙකඩත් කරසිත් තුටුවෙත්
- 'බලන් අපි උන්නේ - එහෙන් එනකං නේ'
- ශාක්‍ය මුනි සිරිපා නිති වදිම්

(v) උඩරට වන්නමකට අයත් ගී පාදය තෝරා ලියන්න.

(vi) කෝලම් ගීත ආශ්‍රිතව නිර්මාණය වී ඇති සරල ගී පාදය තෝරන්න.

(vii) නාට්‍ය දෙබස් ගීතවත් ව ඉදිරිපත් කිරීමට යොදා ගත් "බොලන් පොඩි නංගි ටිකක් හිටපන්කො" යන රබන් පදයේ ගති ලක්ෂණය ඇතුළත් ගී පාදය තෝරා ලියන්න.

(viii) සී. ද. එස්. කුලතිලක සූරීන් විසින් ජන සංගීතය ඇසුරෙන් නිර්මාණය කරන ලද ගී පාදය තෝරා ලියන්න.

(ලකුණු 01 × 08 = 08 යි)

● අංක (ix) සහ (x) ප්‍රශ්නවලට නිවැරදි පිළිතුරු ප්‍රශ්න අංකය ද සමග ඔබේ පිළිතුරු පත්‍රයෙහි ලියන්න.

(ix) පාසල් තූර්ය වාදන කණ්ඩායම් සඳහා යොදා ගැනෙන, සුෂිර වාද්‍ය ගණයට අයත් ස්වර පුවරු සංගීත භාණ්ඩ දෙකක් වන්නේ ........................ සහ ........................ ය.

(x) මහනුවර යුගයේ දී කවිකාර මඩුව කේන්ද්‍ර කොට ගෙන ප්‍රශස්ති, ........................ සහ ........................ යන ගීත ප්‍රබන්ධ නිර්මාණය වී ඇත.

(ලකුණු 02 × 02 = 04 යි)

**(මුළු ලකුණු 12 යි)**

/හයවැනි පිටුව බලන්න

**2.** පහත වගුවෙහි දැක්වෙන විස්තර ඇසුරෙන් අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

| **රාගය** | **රාග විස්තරය** |
|---|---|
| A | • සියලුම ස්වර ශුද්ධ ව යෙදෙන මෙම රාගයේ මධ්‍යම හා නිෂාද යන ස්වර වර්ජ්‍ය වේ. |
| B | • ස්වර දෙකක් පමණක් කෝමල වන මෙම නිර්දේශිත රාගයේ ජාතිය සම්පූර්ණ වේ. |

(i) ඉහත සඳහන් රාග විස්තර අනුව A සහ B ට ගැළපෙන රාග **දෙක** පිළිවෙළින් නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) එම රාග දෙකෙන් **එක් රාගයක්** තෝරාගෙන ඊට අයත්,

- මධ්‍යලය ඛ්‍යාල් ගීතයක හෝ ලක්ෂණ ගීතයක ස්ථායි කොටසේ ගීත ස්වර ප්‍රස්තාරය ලියන්න.

**නැතහොත්**

- මධ්‍යලය වාදිතයක ස්ථායි කොටස ස්වර ප්‍රස්තාර කර, මාත්‍රා අටකට නො අඩු තානාලංකාර **දෙකක්** තාලානුකූලව ප්‍රස්තාර කරන්න. (ලකුණු 06 යි)

(iii) ඉහත (ii) කොටසේදී ඔබ **තෝරා නොගත්** රාගයට අයත්,

- ආරෝහණ, අවරෝහණ
- රාග සංගතියක් හා වාදී ස්වරය ලියා දක්වන්න. (ලකුණු 04 යි)

**(මුළු ලකුණු 12 යි)**

**3.** නිර්දේශිත රාග ඇසුරෙන් නිර්මාණය වූ ස්වර ප්‍රස්තාර දෙකක් A සහ B වශයෙන් පහත දැක්වේ.

| | | | | |
|---|---|---|---|---|
| A | ග ම රි | ග ප – | ධ නි ස̇ | රි̇ ස̇ නි |
| | ධ ප ම | ග ම රි | ස – රි | ස – – |
| B | ග රි | නි̣ – රි | ග – | ප – රි (ප‿රි) |
| | ග රි | නි̣ – ධ̣ | නි̣ – | රි ස – |

(i) ඉහත A සහ B ස්වර ප්‍රස්තාර කොටස් අයත් වන නිර්දේශිත රාග **දෙක** අදාළ ඉංග්‍රීසි අක්ෂර සමග නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) A සහ B ස්වර ප්‍රස්තාර දෙකට අදාළ හින්දුස්තානි තාල **දෙක** පිළිවෙළින් නම් කර, ඉන් **එක්** තාලයකට අයත් ඨේකාව නියමිත මාත්‍රා, විභාග සහ තාල සංඥා සහිත ව ප්‍රස්තාර කරන්න. (ලකුණු 06 යි)

(iii) A සහ B ස්වර ප්‍රස්තාර කොටස් අයත් රාග දෙකෙන් **එක් රාගයක්** තෝරාගෙන ඊට අයත් 'සර්ගම්' ප්‍රබන්ධයක් ස්ථායි, අන්තරා වශයෙන් ස්වර ප්‍රස්තාර කරන්න. (ලකුණු 04 යි)

**(මුළු ලකුණු 12 යි)**

**4.** (i) ''සේ ගී'' යටතට අයත් වන ගී වර්ග **තුනක්** නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) ගැල් ගී, කෙළි ගී යන ගී වර්ග දෙකෙහි සුවිශේෂ ලක්ෂණ **දෙක** බැගින් වෙන් වෙන් ව ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(iii) නිර්දේශිත බැති ගීතයක පාද **දෙකක්** පමණක් ගීත ස්වර ප්‍රස්තාර කර, ඊට අදාළ තිත ද නම් කරන්න. (ලකුණු 05 යි)

**(මුළු ලකුණු 12 යි)**

**5.** (i) නූර්ති සංගීතය පිළිබඳ ව අසා ඇති පහත ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

(අ) ආභාසය ලත් සංගීත සම්ප්‍රදාය නම් කරන්න.

(ආ) ප්‍රධාන සංගීත භාණ්ඩ **දෙකක්** නම් කරන්න.

(ඉ) භාරතීය සංගීතඥයෙකු නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) පහත සඳහන් පාරිභාෂික වචන අතුරෙන් තෝරාගත් **හතරක්** කෙටියෙන් විස්තර කරන්න.

(අ) උරුට්ටුව (ආ) දොහොරාව (ඉ) තෝඩායම

(ඊ) ඉන්නිසය (උ) පොතේගුරු (ලකුණු 04 යි)

(iii) කෝලම් හා සොකරි රංග ශෛලීන්ට ආවේණික සංගීතමය ලක්ෂණ **දෙක** බැගින් වෙන් වෙන් ව ලියා දක්වන්න. (ලකුණු 04 යි)

**(මුළු ලකුණු 12 යි)**

**6.** පහතින් දක්වා ඇත්තේ ප්‍රචලිත සරල ගීතයක අතුරු වාදන කොටසකට අයත් අපරදිග ප්‍රස්තාරයකි.



(i) ඉහත සංගීත ප්‍රස්තාරය පෙරදිග ක්‍රමයට ප්‍රස්තාර කරන්න. (ලකුණු 06 යි)

(ii) එම ප්‍රස්තාරයේ පළමු විභාග හතර මධ්‍යමභාවයට පෙරළා පෙරදිග ක්‍රමයට ප්‍රස්තාර කරන්න. (එක් විභාගයකට ලකුණු ½ බැගින් විභාග 4 ට ලකුණු 02 යි)

(iii) පහත A, B, C සහ D යන ඉංග්‍රීසි අක්ෂරයන්ගෙන් දැක්වෙන අපරදිග සංගීත ප්‍රස්තාර සංකේත නම් කරන්න.

A B C D

(ලකුණු 04 යි)

**(මුළු ලකුණු 12 යි)**

**7.** පහත සඳහන් මාතෘකා අතුරෙන් **තුනක්** තෝරාගෙන පිළිතුරු සපයන්න.

(i) හින්දුස්තානි සංගීතයෙහි දස මේල (ථාට) අතරින් කැමති මේල (ථාට) **හතරක්** නම් කර, ඒ ඒ මේලයට (ථාටයට) අදාළ ආරෝහණ ස්වර ලියන්න.

(ii) පතල් ගී සහ බඹර ගී පිළිබඳ සමානතා **දෙකක්** හා අසමානතා **දෙකක්** ලියා දක්වන්න.

(iii) රේඛාව චිත්‍රපටයෙන් පසු මෙරට තිරගත වූ චිත්‍රපටයකට අයත් ගීතයක් නම්කර, එම ගීතය අයත් චිත්‍රපටය, එහි සංගීත නිර්මාතෘ සහ ගායක/ගායිකාවන් වෙන් වෙන් ව ලියා දක්වන්න.

(iv) පරිගණක සංගීතය සඳහා යොදාගැනෙන මෘදුකාංග **හතරක්** නම් කරන්න.

(v) තබ්ලාවක දළ රූපසටහනක් ඇඳ, එහි කොටස් **හතරක්** නම් කරන්න. **(ලකුණු 04 × 3 = 12 යි)**

***